# සිංහල - දෙමළ - මුස්ලිම් සුහද වාසය

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

ශ්‍රී ලංකාවට දීර්ඝ ඉතිහාසයක් ඇත. එය රාවණ රජතුමා තෙක් අවුරුදු දහදාහක් පමණ ඇත අතීතයට දිව යයි. රාවණ රජු හෙළයෙකි. එහෙයින් හෙළ දිව, හෙළ බස, හෙළ පුවත - ඉතිහාසය යන වහර ලැබිණ. ඒ කාලයේ හැටියට රාවණ රජතුමා ඉතා දියුණු කෙනෙකි. දඬුමොනර නමින් අහස් යානවක් තුබුණු බවත් පුරාවෘත්ත ඉතිහාසය කියයි.

බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පා වදාළ දිනයෙහි විජය කුමරු නමින් හැඳින්වෙන ප්‍රධානියා සමඟ ජන කොටසක් භාරතයෙහි සිට නැව්වලින් පැමිණ හෙළදිවට ගොඩ බැස ඇත. සිංහවංශික නමින් හැඳින්වුණු ඔවුහු රාෂ්ට්‍ර පාලකයෝ වූහ. එහෙයින් හෙළදිව සිංහද්වීපය නමිනුත් පසුව සිංහලද්වීපය නමිනුත් හැඳින්විණ. ජනතාව සිංහල නමින් හැඳින්විණ. ඔවුන්ගේ රාජ්‍ය පාලනය හොඳින් සිදුවිය. මිහිඳු මහරහතන් වහන්සේ ප්‍රධාන භික්ෂු පිරිසගේ පැමිණීම නිසා තිස්ස රජතුමා ප්‍රධාන රට වැසියෝ බෞද්ධයෝ වූහ.

ටික කලකට පසු දකුණු ඉන්දියාවේ සිට එළාර නමින් හැඳින්වුණු හමුදා නායකයෙක් හමුදා පිරිවරින් පැමිණ ආක්‍රමණය කොට උතුරු පළාතත් උතුරු මැද පළාතෙන් කොටසකුත් යටත් කරගෙන රජකම් කළා. එය සිංහල බෞද්ධයනට මහත් කරදරයක් විය. එයින් සිදුවූ විනාශය රුහුණ දක්වා පැතිර ගියා.

නොබෝ කලෙකින් රුහුණේ වාසය කළ දුටුගැමුණු රජතුමා මහා යුද හමුදාවක් රැගෙන ගොස් යුද්ධකොට එළාර රජු යටත් කොට මුළු ලංකාව ම එක්සේසත් කළා. සිංහල බෞද්ධයන්ගේ විශේෂ ගුණයක් නම් පරාජිතයනට හිරිහැර නොකිරීමයි. එහෙයින් පරාජිතයන්ගෙන් කොටසක් ඉන්දියාවට ගියා. කොටසක් උතුරේ පදිංචි වුණා. මුල පටන් උතුරේ පදිංචි ව සිටි සිංහල බෞද්ධයෝ පරාජිත ජනතාවට සුවසේ වාසය කරන්නට ඉඩ දුන්හ. එකල යාපනේ පමණක් මහා විහාර 21 ක් තුබුණා. ක්‍රමයෙන් දෙමළ ජනතාව වැඩි වුණා. සිංහල ජනතාව අඩු වුණා. මෙකල උතුරේ සිංහල හමුදාව හැර වෙන සිංහලයෝ නැත.

උතුරේ ජනතාවගේ උත්සාහවන්තකම නිසාත් මිෂනාරීන්ගේ උපකාරය නිසාත් යාපනය වේගයෙන් දියුණු වුණා. සමහරුන් මහ උගතුන් වුණා. සිංහලයන් ක්‍රමයෙන් හීනවුණා. 1983 අගෝස්තු 13 වැනි දා උදේ සිංහල කඩ කඩා දමිළයන් මහ කෝලාහලයක් ආරම්භ කළා. එය ශ්‍රී ලංකාව පුරා ම පැතිරී ගියා. සිංහලයන් ප්‍රතිප්‍රහාර දුන්නා. එකල ආරම්භ වූ ප්‍රකාශ නොකළ යුද්ධය තවමත් ගෙන යනවා. යුද්ධයක් පටන් ගත්විට එක් කොටසක් දුක් විඳිනවා. තව කොටසක් පොහොසතුන් වෙනවා. ඒ නිසයි යුද්ධය නො නවත්වා දිගට ගෙන ගියේ.

## කලාපීය රාජ්‍ය හෙවත් ප්‍රාන්ත රාජ්‍ය:

ඉංගිරිසීන්ගේ යුගයෙහි මෙහේ තුබුණේ දිසා සබා ය. ඔවුන්ගෙන් නිදහස් වුණාට පසුවත් තුබුණේ දිසා සභා ය. රාෂ්ට්‍රපාලනය හොඳින් සිදුවූ අතර සිංහල දෙමළ ප්‍රශ්නය ද තුබුණා. එහෙයින් අප සිංහල හා දෙමළ ප්‍රශ්න විසඳා ගන්නට මාර්ග පෙන්වා දුන්නා. පාලකයන් සැලැකිල්ලට ගත්තේ නැත. එයින් සිංහල දෙමළ වෛරය වැඩි වුණා. ඒ තරමට ම මනුෂ්‍ය ඝාතන ද වැඩි වුණා.

1984 වැන්නෙහි සර්ව පාක්ෂික සම්මේලනයක් පැවැත්වුණා. එහිදී ද සංඝයා වහන්සේ ඉදිරිපත් කළ විසිඳුම් සාධාරණයි කියා දෙමළ ජනතාව පිළිගත්තා. එහෙත් පාලකයන් ක්‍රියාත්මක කළේ නැත. අද පවත්නා සිංහල දෙමළ වෛරය ඉතා අනතුරුදායකයි. මරාගන මැරෙන කණ්ඩායම් ඉන්නවා. තමන්ගේ ජනතාව වෙනුවෙන් කරන්නට පිළිවන් හැම දෙයක් ම කරනවා.

යෝජිත පාලන ක්‍රමය අනුව ප්‍රාන්ත රාජ්‍ය නවයක් ඇති වෙනවා. උතුර විශාල ප්‍රදේශයෙකි. එය දෙමළ ජනතාවටයි. මායිම් වෙනස් කොට හෝ නැගෙනහිර මුස්ලිම් ජනතාවට යනවා. පසු කාලයක හෝ කන්ද උඩරට තොණ්ඩමන් රාජ්‍යයට අයත් වෙනවා. ඉතින් ඉතිරිවන ප්‍රමාණය ඉදිරියට සිංහලයනට හිටගෙන ඉන්නත් මදි වෙනවා.

සැබෑ ඊළාම් රාජ්‍යය




මේ සමඟ තිබෙන පින්තූරය දෙස නුවණැසින් බලන්න. මේ පින්තූරය ඇමරිකාවේ බොස්ටන් නගරයේ පිහිටුවා ගෙන තිබෙන උත්තරීතර දෙමළ සංවිධානයෙහි ලාංඡනය යි. තමන්ගේ ජාතිය වෙනුවෙන් ඔහුන්ගේ ක්‍රියාමාර්ගයට ප්‍රශංසා කළ යුතු ම යි. මෙසේ ඇමරිකාව පුරා මත් යුරෝපයේත් අන් රටවලත් සංවිධාන හදාගෙන මුදල් එකතු කරගෙන ප්‍රකාශ නො කොට ඔවුන් කරගෙන යන වැඩ පිළිවෙල ඉතා ප්‍රකට ය. ඔවුන් උපකරණ එවනවා, මුදල් එවනවා.

ශ්‍රී ලංකාවේ සිංහල ජනතාවත් ලෝකයේ පුරා ම ඉගෙනීමෙහි හා රැකියාවන්හි යෙදී සිටිමින් ඉතා ඉහළ මට්ටමේ සිටිනවා. නොයෙක් දෙනා නොයෙක් මට්ටමෙන් ජන්මභූමියට සලකනවා. මුදලුත් එවනවා. එහෙත් දෙමළ ජනතාව ස්වකීය ජනතාවට කරන මට්ටමේ සැලකිලි නැත. එක් කාලයක හැම රටක ම සිංහල සමිති පිහිටුවාගෙන උනන්දුවෙන් වැඩකළා. මාත් ඇතැම් රටවල රැස්වීම්වලට ගියා. මෙසේ නානා රටවල නියෝජිතයන් රැස්කරවා ලන්ඩන් නුවර දවසක් පුරා සම්මේලනයක් පැවැත්වූවා. මාත් ගියා. සත්‍ය තොරතුරු ඇතුළත් කොට ඉංගිරිසි බසින් සෑහෙන ප්‍රමාණයක පොතකුත් නිකුත් කළා. ඒ රැස්වීමට එංගලන්තයේ රාජ්‍ය සභාවේ ඇමැතිතුමෙකුත් විපක්ෂ නායකතුමාත් පමුණුවා ගෙන තුබුණා. ඒ දෙදෙනා මුළු දවසේ ම සිටියා. කාරණා අවබෝධ කර ගත්තා.

## සිංහල - අසිංහල සහෝදරත්වය:

රාවණ රජතුමාගේ කාලයේ පටන් පැවත එන හෙළයන් සිංහවංශික විජය කුමරා සහ පිරිවරින් පැමිණීමෙන් පසු සිංහලයන් වුණා. ඒ පරම්පරාව තමයි දිගට එන්නේ. දකුණු ඉන්දියාවෙන් හමුදා සමග පැමිණි එළාරයන් යුද කොට උතුරත් අනුරාධපුරයත් අල්ලා ගෙන රජකම් කළා. රුහුණේ සිට සහපිරිවරින් පැමිණි දුටුගැමුණු රජු යුදකොට දිනාගත් පසු මුළු ලක් පොළොව ම එක්සේසත් කොට රජ වුණා.

පරාජිත ව මැරුණු එළාර රජතුමාගේ දේහයට රාජ්‍ය ගෞරව දක්වා ආදාහන කොට එහි සිහිවටනත් හදා එතැනින් ගමන් කරන සියලු දෙනා ම ගෞරව දක්වා පයින් යා යුතු ය යි නියම කළා. පසුව වාසය කළ රජවරුන් ද ඒ නියමයට ගරු කළා.

නැගෙනහිර පළාතෙහි මුළුමනින් ම වාසය කළෝ සිංහල බෞද්ධයෝ ය. දැන් අම්පාර හැරුණු විට ඉතිරි ප්‍රදේශයන්හි මුස්ලිම් ජනතාව බලවත් වී සිටී. උතුර දෙමළ ජනතාවට දුන්නොත් නැගෙනහිර මුස්ලිම් ජනතාවට දෙන්නට සිදුවෙනවා ඒකාන්තයි.

ඊළාම් සිතියම නැවතත් බලන්න. රට මැද කඳුකරේ ඊළාම් ලකුණින් රවුමක් පෙන්වා ඇත. එය තේ වතු තිබෙන ප්‍රදේශයයි. ඒ වතු කම්කරුවන් බහුල ව සිටින ප්‍රදේශයයි. ඔවුන් වැඩි දෙනාගේ රජා තොණ්ඩමන් ඇමැතිතුමා ය. ඔහුට රාජ්‍ය පිහිටුවන්නත් පිළිවන්. පෙරළන්නත් පිළිවන්. එහෙයින් කවර පක්ෂයක් රජකමට පත්වුවත් තොණ්ඩමන් මහතාත් අමාත්‍ය මණ්ඩලයේ ය. සිංහලයන්ගේ වාද භේද නිසා අසිංහලයන්ගේ සහාය නැති ව රජයක් පිහිටුවන්නට බැරි තත්ත්වයක් උදාවී ඇත.

## ජනගහන අනුපාතය සලකා බලන්න:

1981 න් පසු රටෙහි පවත්නා කලබල නිසා ජන සංගණනයක් ගෙන නැත. 1981 ජනගහනය අනුව සියයට 74 ක් සිංහල ය. 26 ක් අසිංහලයෝ ය. ශ්‍රී ලංකා ඊළාම් සිතියම නැවැත බලන්න.

ශ්‍රී ලංකාවෙහි රෙජිස්ට්‍රාර් ජනරාල් තුමාගේ සංඛ්‍යාලේඛන අනුව අවුරුද්දකට ආවාහ විවාහයෙන් ඇතිවන පවුල් සංඛ්‍යාව එක්ලක්ෂ හැත්තෑ තුන්දහසකි. ඔවුන්ගෙන් උපදින සංඛ්‍යාව පවුලකට තුන්දෙනා ගණනේ බැලූ විට අවුරුද්දට ගෙවල් කොපමණ අවශ්‍ය ද? උතුර දෙමළ ජනතාවටත් නැගෙනහිර අම්පාර හැර අනෙක් කොටස් මුස්ලිම් ජනතාවටත් අයත් කලාපීය - ප්‍රාන්ත රාජ්‍ය වුණාම, නුදුරු අනාගතේ කන්ද උඩරටින් කොටසක් තොණ්ඩමන් රාජ්‍යයටත් ගියාම මේ රටේ මුල් ජනතාව වන සිංහලයනට සිදුවන්නේ කුමක් ද? නුවණින් මැදහත් ව සලකා බලන්න.

## ජනවාසය:

දෙමළ ජනගහනයෙන් වැඩි සංඛ්‍යවක් වාසය කරන්නේ උතුරු පළාතෙන් පිට ය. මේ පනත සම්මත වුණාට පසු ද්‍රවිඩ සියලු දෙනා ම උතුරට යනවා ද? ඔවුන් යවන්නැයි මා කියන්නේ නැත. රජයේ ප්‍රතිපත්තිය කුමක් ද? දෙමළ ජනතාවත් සමග ස්වල්ප වූද අමනාපයක් නැත. **මාගේ එකම අදහස රට ජාති වශයෙන් වෙන් කරන්නේ නැති ව එක ම ජන කොටසක් හැටියට සහෝදරත්වයෙන් වාසය කිරීමයි. දැනුත් කොළඹ එසේ වාසය කරනවා. ඒ සමගි වාසය මුළු රටට ම එසේ විය යුතුයි. සැමට මුළු රටේ ම සාමයෙන් විසිය හැකි විය යුතු යි.**

ළඟ බලන්නේ නැති ව දුර බැලීම බුදුරජාණන් වහන්සේගේ ප්‍රකාශය යි. එහෙයින් පොදුවේ හැම දෙනා මත්, විශේෂයෙන් බෞද්ධයන් හැම දෙනා මත් හැම කටයුත්තක දී ම ළඟ බලන්නේ නැති ව දුර බැලිය යුතු ම යි. එසේ නො කොට ළඟ ප්‍රයෝජනය සලකා කටයුතු කළොත් සකල ජනතාව ම කණගාටු වෙනවා ඒකාන්තයි.

## සිංහල රට අනාගතයේ දී දෙමළ රටක් වන සැටි:

මෙකල ජනගහනය අනුව සිංහල ජනතාව සියයට 74 කි. දෙමළ ජනතාව සියයට 18 කි. මුස්ලිම් ජනතාව සියයට 8 කි. මෙකල පවුල් සංවිධානය නමින් වැඩ පිළිවෙලක් ගෙන යනවා. එයින් සිංහලයන්ගේ සංඛ්‍යාව අඩු වෙනවා. අසිංහලයන්ගේ සංඛ්‍යාව වැඩි වෙනවා.

ප්‍රාන්ත රාජ්‍ය ආවාම ජනාවාසය කෙබඳු වේදැයි නුවණින් සලකා බලන්න. උතුරේ භූමිය විශාල යි. එහි වාසය කරන්නේ හමුදාව හැරුණාම දෙමළ ජනතාව යි. සිංහලයන් පළවා හැර ඇත. යුද්ධය අවසන් වූ විට සම්පූර්ණ හමුදාව නොවේ නම් වැඩි සංඛ්‍යාවක් ආපසු ඒමයි සිරිත.

වත්මන් ද්‍රවිඩ ජනගහනයෙන් බහුතරය වෙසෙන්නේ කොළඹ ය. ප්‍රකාශිත පොලිස් වාර්තා අනුව සියයට 60 ක් කොළඹ ය. යුද නිම වුවත් ආපසු යන්නේ ටික දෙනා ය. එසේ වුව ද තව වසර විසිපහක් පමණ යන විට උතුර දෙමළ ජනතාවගෙන් පිරී යනු ඇත. මුළු උතුරු ප්‍රාන්තය ම දෙමළ රාජ්‍යයක් වනු ඇත.

අවුරුදු හතළිහක් පනහක් පමණ යන විට උතුරේ පාලකයන් නියම ඉතිහාසය නො දැන සිංහලයන් කෙරෙහි වෛර බැඳ දකුණු ඉන්දීය ද්‍රවිඩයන් හා එක්වීම ඒකාන්ත ය. එයට ශ්‍රී ලංකාවේ අන් පෙදෙස්වල සිටින දමිළයනුත් එකතු කරගෙන යුද වැදුණොත් සිංහලයන් කරන්නේ කුමක් ද? එහි පෙර ලකුණු දැනුත් උදා වී නැද්ද?

## අළුත් රාජ්‍යසභා පනත හොඳ ද? නරක ද?

අලුත් රාජ්‍යසභා පනතේ පිටපතක් ලැබුණා. උගත් මහත්වරුන් කණ්ඩායමක් සමග කියවා බැලීමි. ඉතා හොඳින් සම්පාදනය කරන ලද්දක් බව වැටහුණා. එහෙත් පිළිගත නොහැකි කරුණුවලින් ද යුක්තයි. එය පුදුමයක් නො වේ. ඒ කරුණු පිළිබඳ ව මධ්‍යස්ථ විවේචනයක් මතු පළ වේ.

ශ්‍රී ලංකාව පූර්වයෙහි සිට සිංහල බෞද්ධ රටයි. පසු කාලයෙක දෙමළ හා මුස්ලිම් ජනතාව ද පැමිණ පදිංචි වුණා. එහෙයින් සිංහල රට බහුජාතික රටක් වුණා. එසේ වුවත් ශ්‍රී ලංකාව සිංහල බෞද්ධ රට බව අමතක කළ යුතු නො වේ.

අසිංහල අබෞද්ධයනට අසිංහල අබෞද්ධකම රැක ගන්නට තවත් බොහෝ ම රටවල් ඇත. සිංහල බෞද්ධයනට සිංහල බෞද්ධකම රැකගන්නට තිබෙන්නේ ශ්‍රී ලංකාව පමණක් බව සිංහල බෞද්ධයනුත් අසිංහල අබෞද්ධයනුත් කිසි විටෙකත් අමතක කළ යුතු නො වේ. එය ඉතා සාධාරණ චින්තනයකි.

## බලය බෙදාහැරීමේ යෝජනා:

ශ්‍රී ලංකාව ඒකීය රාජ්‍යයක් ලෙස අඛණ්ඩ ව පවත්වාගෙන යාම ඕනෑ ම ව්‍යවස්ථා සංශෝධනයකින් තහවුරු විය යුතු වේ. පළාත් සංගමය හෝ කලාප සංගමය ඒකීය රාජ්‍ය සංකල්පයට පටහැනි වන හෙයින් පළාත් හෝ කලාප සංගම් පිළිබඳ යෝජනා ඉවත් විය යුතු ය.

ජනතා උදහසට පාත්‍ර වූ ඉන්දු ලංකා (රජීව් - ජේ. ආර්.) සම්මුතිය මගින් තාවකාලික පියවරක් ලෙස යා කරන ලද උතුරු පළාත සහ නැගෙනහිර පළාත ආපසු වෙන් වෙන් ඒකක බවට පත් කිරීම අත්‍යවශ්‍ය ය. මේ ඕනෑ ම ව්‍යවස්ථා සංශෝධනයක අනිවාර්ය අංගයක් විය යුතු වේ.

1987 දී පළාත් සභා පිහිටුවන ලද්දේ ජනවාර්ගික ප්‍රශ්නය විසඳීම මුල් අරමුණ ලෙස සලකාගෙන ය. එහෙත් එම පරමාර්ථය සිහිනයක් වුණා පමණි. පළාත් සභා ක්‍රමය මහජන මුදල් ගිල ගන්නා සුදු අලියකු බවට පත් වී ඇත. යෝජිත ව්‍යවස්ථා සංශෝධනය හේතුවෙන් වියදම් තවත් අධික වනු ඇත. යුද්ධයේ බර වගේ ම තවත් බරක් කර කියා ගන්නට ජනතාවට මෙයින් සිදු වනු ඇත. මේ සත්‍යයට පිටු පා තව තව වැඩි බලතල සහිත පළාත් සභා ක්‍රමයකින් රටට වැඩක් වේවි ද යන්න සිතා බැලිය යුතු ය.

ආණ්ඩුවේ සෘජු වගකීම යටතේ පැවැතිය යුතු ප්‍රධාන කරුණු භික්ෂු සංඝයා හා ප්‍රධාන බෞද්ධ සමිති සමාගම් පුන පුනා කියා ඇත.

- බුද්ධ ධර්මයේ සහ ශාසනයේ චිරස්ථිතිය,
- රජයේ ඉඩම් සන්තකය අන්සතු කිරීම සහ පරිහරණය,
- ආරක්ෂාව, නීතිය, සාමය හා පොලිසිය,
- සියලු ම ගුවන් තොටුපළවල්, සියලු ම වරායවල්,
- සියලු ම ප්‍රධාන වාරිමාර්ග ව්‍යාපාර,

යන මේවා ඉන් සමහරෙකි. එහෙත් මේවා ඉටු වී තිබේ ද?

## බුද්ධ ධර්මයට පුමුඛස්ථානය:

බුද්ධ ධර්මය පුමුඛස්ථානයේ ලා සැලකීම, එය ආරක්ෂා කිරීම සහ පෝෂණය කිරීම තහවුරු වන අන්දමේ යෝජනාව ඉතා හොඳ ය. එහෙත් දෙවන උපලේඛනය බලන්න. සංවෘත ලැයිස්තුවේ 52 වන කරුණ ලෙස බුද්ධ ධර්මය යන වදන සඳහන් වේ. 51 කාන්තා කටයුතු ය. 52 ක්‍රීඩා කටයුතු ය. දෙවන ලේඛනය සැකසීමේ දී නම් පුමුඛස්ථානය දී තිබේ දැයි සැකයි. අනෙක් කාරණය බුදු දහම සහ ශාසනය ආරක්ෂා කිරීම පිළිබඳ සියලු කරුණුවල දී මහා සංඝයාගෙන් විමසන බවයි. උත්තරීතර මණ්ඩලය සමග විමසීමෙන් කටයුතු කිරීම හොඳ ය. එහෙත් උත්තරීතර මණ්ඩලය ඒකපාර්ශ්වික මණ්ඩලයක් බවට පරිවර්තනය වීම වළක්වන පරිදි නීති සකස් විය යුතු ය. එසේ නැත්නම් රජයක් වෙනස් වීමත් සමග ම උත්තරීතර මණ්ඩලයේ සාමාජිකත්වය ද වෙනස්වීම නියත ය. එවැන්නක් සිදු වුව හොත් උත්තරීතර මණ්ඩලය හේතුවෙන් නොසිතූ භයානක ප්‍රතිඵල ඇති විය හැකි ය.

## රජයේ ඉඩම්:

මිනිස් සම්පත ළඟට රටකට ඇති ලොකු ම සම්පත ඉඩම් ය. තෙරපෙන ජනගහනයක් ඇති, අබ ඇටයක් බඳු රටකට ඉඩම්වල වටිනාකම තවත් වැඩි ය. රජයේ ඉඩම් බෙදා දීමේ බලයත් එසේ බෙදීමේ දී පළමු තැන දිස්ත්‍රික්කයේ ජනයාටත් ඊළඟ තැන පළාතේ ජනයාටත් දීමේ බලයත් නීතියෙන් ම පළාත් සභාවලට දුන් විට, ඉඩම් හිඟ පළාත්වල ජනතාවගේ ඉඩම් ප්‍රශ්නය විසඳන්නේ කෙලෙස ද? උතුරු සහ නැගෙනහිර පළාත්වල අවතැන් වූ සිංහල හා මුස්ලිම් ජනතාවගේ ප්‍රශ්නය විසඳීමට අදහස් කරන්නේ කෙසේ ද?

රටේ ම ජනතාවගේ පොදු සම්පත් යොදවා බිහි කළ මහවැලි ව්‍යාපාරය වැනි ජාතික සංවර්ධන ව්‍යාපාරවල ඉඩම් සංවර්ධනයෙන් රටේ ජනතාවට පොදු යහපතක් සැලැසෙන්නේ කෙලෙස ද?

ඉඩම් බෙදා දීමේ දී පළමු වන තැන සහ දෙවන තැන දිස්ත්‍රික්කයේ සහ පළාතේ ජනතාවට හිමි කළහොත් සමස්ත ශ්‍රී ලංකාව ම එහි සියලු ම වැසියන්ගේ වාසභූමිය විය යුතු ය යන අදහස බිඳ වැටේ. රටේ ඕනෑ ම ප්‍රදේශයක ජනාවාස ඉඩම් ලබා ගැනීමේ අයිතිය සියලු ම ශ්‍රී ලාංකිකයනට සමසේ තිබිය යුතු ය.

රජයේ ඉඩම් පරිහරණය පළාත් සභාවලට පැවරීම, මනඃකල්පිත ආවේණික නිජබිම තහවුරු කර ගැනීමට ඊළාම් වාදීනට සහ බෙදුම්වාදීනට රුකුල් දීමකි. මෙයින් ''ආවේණික නිජබිම්'' ප්‍රදේශය තුළ බහුතර ජන කොට්ඨාසයට තැනක් නැති වේ. තව ද රජය සහ පළාත් සභා අතර ද පළාත් සභා එකිනෙක අතර ද උග්‍ර ගැටුම් ඇති වනු නො අනුමාන ය.

රටේ ආරක්ෂාව නීතිය හා සාමය තහවරු කරන ප්‍රධාන ආයතනයක් වනුයේ පොලිස් සේවාව යි. මෙය තනි පාලනයක් යටතේ පැවැතිය යුතු ය. පළාතක ප්‍රධාන ඇමැතිවරයා විසින් පත් කරනු ලබන ප්‍රධාන පොලිස් කොමසාරිස් වරයකු සහ එවැනි අයකු යටතේ පාලනය වන නිලධාරීන් තමාට රිසි සේ ක්‍රියාකරවීමට යම් කිසි ප්‍රධාන ඇමතිවරයකුට හැකි වන්නේ ය. මන්ද, පළාතේ පොලිස් කොමසාරිස් වගකියන්නේ ආණ්ඩුව හෝ පොලිස්පති වෙත නො ව ප්‍රධාන ඇමැතිට ය. මෙවැනි නීතිමය බලතල නොමැති ව පවා විවිධ ආණ්ඩු යටතේ ප්‍රදේශීය බලගතු දේශපාලකයන් පොලිසිවල කටයුතුවලට අත දැමීමෙන් අපරාධ පරීක්ෂණ ක්‍රමය අවුල් වූ ආකාරය ගැන මුළු රට ම දනී. මිනිස් අතුරුදහන් වීම්, භීෂණ, මානව අයිතීන් පැහැර ගැනීම් ආදියට පොලිස්සියේ සමහරුන් පෙළඹුණ හැටි ප්‍රකට ය.

එක එක පළාතට වෙන වෙන ම පොලිස් සේවාවක් බිහිවන විට, එක් පළාතක අපරාධ කාරයකුට තවත් පළාතකට ඇතුළු වී නිදැල්ලේ කටයුතු කළ හැකි යි. තමාගේ පළාතෙන් ඔබ්බට ගොස් රාජකාරි කිරීමට පළාත් බද පොලිසිවලට බලය නැති නිසා ය. ඇමරිකා එක්සත් ජනපදයේ එවැනි තත්ත්වයක් ඇත. නීතියේ සිදුරුවලින් පැන යැමට මං සොයන නමගිය අපරාධකරුවනට පළාත් පොලිස් සේවයෙන් විශාල වාසියක් සැලසෙයි. එයින් අපරාධ තව තවත් වැඩි වනු ඇත.

ප්‍රධාන ඇමැතිවරයා, තම පළාත් සභාවට පමණක් වගකියන දේශපාලකයෙකි. සිය පොලිස් බලකාය රහසිගත ව මිලිටරි පොලිසියක් ලෙස දියුණු කිරීමට ඔහුට අවශ්‍ය නම් පුළුවන. එමගින් සන්නද්ධ බලකායකට මුල පුරාගත හැකි ය. එය රටේ ම ජාතික ආරක්ෂාවට තර්ජනයකි.

මූල්‍ය කොමිසම යෝජිත සංශෝධන අනුව බලගතු ආයතනයකි. එක් එක් පළාතකට වෙන් කළයුතු මුදල් ප්‍රමාණය තීරණය කරන්නේ එය යි. මෙම කොමිසමට පුද්ගලයන් පත් කරන්නේ ප්‍රධාන ජාතීන් තුන වෙනුවෙන් තුන් දෙනෙකි. එනම් සිංහල, දෙමළ, මුස්ලිම් වශයෙනි. බර්ගර් හෝ මැලේ ජාතිකයකුට පත්වීම් ලැබිය නොහැකි ය. මෙම නීතිය අනුව ඕනෑ ම වේලාවක බෞද්ධයකු බැහැර වීමට ඉඩ ඇත. එහෙත් සැම විට ම අනිවාර්යයෙන් ම ඉස්ලාම් භක්තිකයෙක් ඇතුළුවේ. මෙය පවසන්නේ ඉස්ලාම් භක්තිකයනට අහිතකින් නො වේ. යෝජිත නීතියේ අසාධාරණය පෙන්වීමට ය. මෙවැනි වැදගත් කොමිසමකට ජාතීන් අනුව සාමාජිකයන් පත් කිරීම අදූරදර්ශී අමනෝඥ පිළිවෙතකි.

මුදල් ණයට ගැනීමට පළාත් සභාවලට බලය ලැබේ. විදේශ ණය ගැනීමට පුළුවන. ආණ්ඩුවේ මුදල් ඇමැතිවරයා යම් යම් නිර්ණායකයන් හා සීමාවන් පනවනු ඇත. එහෙත් ඒවා අභිබවා පළාත් සභාව ක්‍රියා කළොත්, මුළු රටේ ම ආර්ථිකය අනතුරට වැටේ. විදේශ ණය ලැබෙන්නේ ඒකාබද්ධ අරමුදලේ ඇපයට යටත් ව බැවින් ය.

ළඟ දී රටේ යහපතට පටහැනි වන ලෙස ක්‍රියා කිරීම නිසා විදේශීය සහ විදේශ ගැති රාජ්‍ය නොවන සංවිධාන මහජන උදහසට පාත්‍ර වුණා. රජයේ කිසි ම අනුමැතියක් අනුදැනුමක් නොමැති ව ඕනෑ තරම් විදේශීය රාජ්‍ය නොවන සංවිධානවලින් ආධාර ලබා ගැනීමට පළාත් සභාවලට බලය ලැබේ. විදේශීය හා විදේශීය ගැති රාජ්‍ය නොවන සංවිධානවලට සිය ධන බලය යොදවා පළාත්වල අකටයුතු කිරීමට මේ අනුව ඉඩ ලැබේ. මෙය ජාතියේ ඒකීය භාවයට හා ආරක්ෂාවට මහත් තර්ජනයක් වන හෙයින් එවැන්නකට කිසි සේත් ඉඩ නො තැබිය යුතුයි.

